


රායා
කුද්‍රෂෙවා

# දඟකාර කුකුළා

රායා කුද්‍රාෂෙවා (1878-1964) මොස්කව්හි උපන්නා ය. බොහෝ කාලයක් තිස්සේ පුස්තකාලයාධිපතිනියක් ලෙස සේවය කළ ඈ නිතර නිතර පොඩිත්තන් සඳහා කවි, කථා හා ගීත ප්‍රබන්ධ කළා ය. සෝවියට් ළමයින් අතර ඒවා ඉතා ජනප්‍රිය විය. 'දඟකාර කුකුළා' ද ඇගේ ප්‍රබන්ධයකි.

චිත්‍ර : මිතුරිච්






සී/ස, ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂිං හවුස් (පුද්) සමාගම



ගඟ අද්දර දෙමට ගහේ,
කුකුළු ගෙයක පුංචි පහේ,
කිකිළිය සමගින් සතොසේ,
විසුවා කුකුළෙක් සුවසේ.

සීතල සමයත් යෙදුණා,
ගඟ දිය පදමට මිදුණා,
හිම මත සෙල්ලම් කරන්න,
කුකුළට ආසා හිතුණා.

කුකුළා හරි දඟකාරයි,
කිකිළිය නම් සැර පාටයි,
ගං ඉවුරේ ඇවිදින්නට,
පවා ඉඩක් නැති පාටයි.

"හිම හොඳටම ලිස්සනවා!
දියට ගියොත් යට වෙනවා!"
ඈ දැනමුතු කම් දෙනවා,
කුකුළා ගෙයි ළතවෙනවා.

උපන් දිනය අත ළඟටම යෙදුණා,
කිකිළිට ගේදොර වැඩ ගොඩ ගැසුණා.
අමුත්තන්ට ඇරයුම්පත් යැවුණා,
සැම තැන උත්සව සිරියක් පෙනුණා.

ගිනි උදුනට ළං වී කඩිමුඩියෙන්,
කැවුම්, කොකිස් සාදයි වැඩි වැඩියෙන්.
පොල් බෑවක් කෑ හොර බළලකු මෙන්,
කුකුළා ඉවුරට දුව යයි විගසින්!

සුදට සුදේ හිම කැට දිලිසෙනවා,
වීදුරුවක් සේ බිම ලිස්සනවා!
කුකුළා හරි සතුටින් ඉපිලෙනවා,
අත්තටු ගසමින් ඌ හඬලනවා!

හිටි හැටියෙම ලොකු සද්දක් ඇහුණා,
හිම තට්ටුව හැම අතටම පැළුණා!
කුකුළට වැඩ වැරදුණ බව දැනුණා,
සීතල පහවී දාඩිය වැටුණා!





වෙර දැරුමුත් දිය මත පිහිනන්නට,
බරුවක් මෙන් ටික ටික යයි පතුළට!
"අනේ! දෙවියනේ පිහිටක් වන්නට,
කවුරුත් නැද්දෝ මා බේරන්නට!"



ගිරා, කොබෙයි, හැමදෙන පිරිවර කොට,
කිකිළිය දුව ආවා ගං ඉවුරට.
තාරා නැන්දා හොට දා සිදුරට,
තෙතබරි කුකුළා ඇදගති පිටතට.

පොරෝනයක් විගසින් ගෙන ආවා,
ඇඟ රත්වන්නට හොඳ හැටි එතුවා.
හිම පැදියක කුකුළා සැතපෙව්වා,
දර මිටියක් මෙන් ඇදගෙන ආවා!

පාත්ත දොස්තර ඇවිදින්,
ලෙඩාව හොඳහැටි බැලුවා.
"බයක් වෙන්න නෑ" කියමින්,
බෙහෙත් සීට්ටුව ලිව්වා.

"දවසට තුන් වරක් ගන්න,
කුඩු මුල් දොලහක් නියමයි!
මී පැණි දා තේ වතුරට,
පාවිච්චිය බොහොම ගුණයි."



කෑම කන්න හැම දෙනා,
මේසෙ වටේ එක්වුණා.
සුවඳ හමන උණු කිරිබත්,
පිඟන්වලට ගොඩ වුණා!

කුකුළු හාමි කැළඹුණා,
ඉබේ ඇඳෙන් නැගිටුණා!
බත් දීසිය හිස් වන හැටි,
දැක හොඳහැටි බය වුණා!



හිටි හැටියෙම දුන්න වගේ,
ඇඳෙන් බිමට පැන්න රගේ,
දැක්කා එහි සිටිය නඩේ,
ඒකත් ඉල කැඩෙන වැඩේ!

අමුත්තන්ගෙ සිනා හඬයි,
ගෙදර එකම ගෝසාවයි!
සිදුවුණු දේවල් කදිමයි,
ලියන්නටත් බැරි තරමයි.



රායා
කැද්‍රුෂෙවා

# දඟකාර
# කුකුළා



සී/ස ප්‍රගති ප්‍රකාශන නිවස
91, ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා මාවත, කොළඹ 08

ISBN 978-955-1319-86-1

9 789551 319861

Rs. 150/-